# සුභා සඞ්ඝස්ස සාමග්ගී

අතිපූජ්‍ය මඩිහේ පඤ්ඤාසීහ මහානායක මාහිමිපාණන් වහන්සේ

"බුද්ධශාසනයේ දියුණුව රඳාපවත්නේ වෙහෙර විහාරවල හෝ උත්සව පෙරහර ආදියේ හෝ නො ව පුද්ගලයන් තුල ය. බාහිර දියුණුව කොපමණ ඉහළින් තිබුණත් බුද්ධාගම අදහන පුද්ගලයන් ගේ ආභ්‍යන්තරික දියුණුවක් තැන් නම් බුද්ධශාසනයේ දියුණුවක් නොවන්නේ ය"

"මා හට මහානායක ධූරය පැවරුණු ළඟ ම දිනෙක පැමිණි උත්තර මන්ත්‍රණ සභාවේ සභාපත් **ශ්‍රීමත් සිරිල් ද සොයිසා** මැතිතුමා ආශීර්වාද කොට බලවත් ඉල්ලීමක් ද කළේ ය. එ නම් "ඔබ වහන්සේ මහානායක මාහිමිවරුන් සමඟ සාකච්ඡා කොට අමරපුර නිකායයේ සියලු ම කොටස් දැනට වඩා ළං වූ සම්බන්ධයකින් ක්‍රියා කරන වැඩ පිළිවෙළක් සකක් කරන්න" යනු යි. මගේ සිතට තදින් කා වැදීගිය මේ ඉල්ලීම ඉතා වැදගති. එ සේ ම අවශ්‍යයෙන් කළ යුත්තකි"

"අමරපුර නිකායයේ බොහෝ මහානායක මාහිමියන් වහන්සේලා පෞද්ගලික ව හඳුනන හෙයින් උන් වහන්සේලා සමඟ සාකච්ඡා කොට දැනට වඩා ළං වූ සම්බන්ධයකින් ක්‍රියා කරන වැඩ පිළිවෙළක් සකස් කිරීමට හැකි තාක් උත්සාහ වඩන බව ඉතා සතුටින් සඳහන් කෙරෙමි"

(අප මහ නා මාහිමිපාණන් වහන්සේ ස්ව මහානායක අක්තපත්‍ර ප්‍රදාන උලෙළේ දී කළ කතාව පිළිබඳ ව 1956 – 01 – 23 දා දිනමිණෙහි පළ වුණු වාර්තාවෙන් ඉපිටිණි)
ප්‍රඥාප්‍රභා 1

යතුරුලිවීම: සැන්ටා ටයිප්සෙටින්